රාවණ පුස්තක සංරක්ෂණාගාරය

# බුද්ධගජ්ජය

# ගණදෙවි හැල්ල

# සහ

# සකස්කඩය




ශ්‍රී රාවණ වංශය ග්‍රන්ථ කේන්ද්‍රයේ ප්‍රකාශනයකි

# බුද්ධගජ්ජය
# ගණදෙවි හැල්ල
# සහ
# සකස්කඩය








රාවණ වංශය ග්‍රන්ථ කේන්ද්‍රයේ
ප්‍රකාශනයකි

# බුද්ධගජ්ජය

| | | |
|---|---|---|
| 1. | නමඃ සමන්ත භද්‍රා | ය |
| | සර්වගෝචර චක්ෂු | සේ |
| | කරුණාමෘත කල්ලො | ල |
| | සිද්ධ වේ සූර්‍ය බන්ධ | වේ |
| 2. | ජය ජය ධර්මරා | ජ |
| | ජනකෘත සර්ව පූ | ජ |
| | අසදෘශ බුද්ධ ලී | ල |
| | අතිපරි ශුද්ධ ශී | ල |
| 3. | ස්ඵුටිතග භක්ති ජා | ල |
| | බහුවිධ විශ්ව පා | ල |
| | ජගති නිරස්ත දෝ | ෂ |
| | ප්‍රණමිත ශස්ත්‍ර වේ | ෂ |
| 4. | රුචිරචි මුක්ති භූ | ෂ |
| | මගධ විශිෂ්ට භා | ෂ |
| | දණ්ඩිත බහු මා | ර |
| | ඛණ්ඩිත භව භා | ර |

| | | |
|---|---|---|
| 5. | මණ්ඩිත සුභ ගා | ඨ |
| | පණ්ඩිත ජන නා | ඨ |
| | අංචිත පද පා | ඨ |
| | සංචිත හිත ජා | ඨ |
| 6. | සාරහරි වර සය | න |
| | තාමරසනිභ නය | න |
| | ලෝකජන සුබ කර | ණ |
| | ලෝලසුර නත චර | ණ |
| 7. | කාල ජය චතුර ත | ර |
| | ශීල ධර දිව සක | ර |
| | බාල ජන කුමති හ | ර |
| | ආලවක දමන ක | ර |
| 8. | සුර නර පූජිනීයා | යී |
| | බුධ ජන බෝධනා | වියී |
| | පරහිත ශාධනා කා | යී |
| | ත්‍රිභුවන ශාසනා | චායී |
| 9. | යඥා ධීස ගුණ ප්‍රණති | ඥ |
| | විඥා ධාර වරස්වුට වි | ඥ |
| | අඥා නාරි බලප්‍රහර | ඥ |
| | ප්‍රඥා දාන මහ ෂඩභි | ඥ |
| 10. | ධීෂ නාමය සාරසා | යක |
| | ළීප දකුල යහතු | භායක |
| | අජරාමර භූති දා | යක |
| | සචරාචරලෝක නා | යක |

11. දානවාරි පද්මා සනස්ථ
ධීර පුත්‍ර චිත්‍රා සනස්ථ
විතමෝහ රුදා සනස්ථ
බෝධිමූල වජ්‍රා සනස්ථ

12. ප්‍රශ්‍රැතමෘදුවාචා චන්දන
නිඃශ්‍රැත සුරපූජා චින්දන
සුශ්‍රැතජනමායා නන්දන
විශ්‍රැත කුලමායා නන්දන

13. ඉෂ්ට විනිෂ්ට සමුජ්ජිත කෝ ප
තුෂ්ට වරිෂ්ට විවජ්ජිත තා ප
ශිෂ්ට විශිෂ්ට විනිර්ජිත තා ප
අෂ්ට චතුෂ්ට ය ලක්ෂණ රූ ප

14. යොග්‍ය භාවගණ නාශුද සී ම
භාග්‍ය දාය ජන මෝදන රා ම
වාක්‍ය ලේස පරි ශෝෂිත කා ම
ශාක්‍ය රාජකුල සාගර සෝ ම

15. ප්‍රේරිත ශාසන නීති විසා ල
ධාරිත බෝධි මනෝහර මූ ල
වා රිත මාර වධූජන ලී ල
පූජිත පාරමිතා දශ ශී ල

16. කා ම ප්‍රභාතර රෝචිර්දි නේ ශ
හේ ම ප්‍රභා ශොභ මානප්‍ර දේ ශ
ශ්‍යාම ප්‍රභාපුර නානඝී කේ ශ
ව්‍යාම ප්‍රභාලොක ලෝකප්‍රකා ශ

17. චිණී බිලශ්‍ඛාන යෝගාර්ථ ශා න්ද්‍ර
පූණී ධරවිඡේද නිරාර්ධ ච න්ද්‍ර
පූණී ගමඛ්‍යාත ධීරාර්ධ ච න්ද්‍ර
ඌණී රුචිවිඡේද බාලාර්ධ ච න්ද්‍ර

18. කුම් හෝ ද යාධීශ විස්තෘත්‍ය රාජ
ද මි හෝලි ශාලිත විස්තෘත්‍ය රාජ
අ මිහෝදි නීකාශ සත්කම් රාජ
ස මිහෝදි වාගීශ සත්කම් රාජ

19. නිකුංචද්භාවාද්‍ය නවශේෂ බුද් ධ
සදංචද් ගුණශේෂ ශීලාදි ශුද් ධ
විරිංචද් ප්‍රභාභෙද ශොභාදි ශුද් ධ
උදංචද් මාකේතු මාලානු විද් ධ

20. අනුසමය ශුභසාර භාෂ ණ
අතුල ගුණධර වීත ශාස න
අතිමලින භවරාග රෝෂ ණ
අපරිමිත වර ශීල භූෂ ණ

21. ප්‍රසුත ප්‍රහිතු ප්‍රස්ව ප්‍ර ච ල
ප්‍රනීත ප්‍රගුණ ප්‍රමද ප්‍ර එ ල
ප්‍රණත ප්‍රචුර ප්‍රභව ප්‍ර ද ල
ප්‍රකට ප්‍රණය ප්‍රතිම ප්‍ර බ ල

22. විස්තාරි විඛ්‍යාත විශ්ව ජන සරණ
අස්තාරි සිද්ධිර බෘන්දශිව කරණ
ශස්තාරි සත්‍යාග සිඩකර චරණ
විස්තාරි ෂඩ්හෙද වර්ණවර කිරණ

23. ව්‍යක්තිකර විත්‍යාශ සාධු ජන    සංඝ
භුක්තිකර සම්මාන නාද මධු    හාංඝ
භුක්ති ධර සංසාර භේද රණ    රංඝ
මුක්ති පුර කල්‍යාණ මෝද මුනි    තුංඝ

24. සර සිජ නිශ්‍රැත විරචිත    තන්ත්‍ර
සපදි නිරස්කෘති භව භය    යන්ත්‍ර
බුද ජන ශික්ෂිත බහුවිධ    තන්ත්‍ර
ත්‍රිභුවන විශ්‍රැත නවගුණ    මන්ත්‍ර

25. බහුලෝක කථනීය පා වා දි පා    ච
ගුණශීල මහනීය ශේවාධි ශේ    ච
අවිනාථ රමනීය භාවාධි භා    ච
ජගදේව ගුරුනාථ දේවාධි දේ    ච

26. අගති ලක තලනීති චක්‍ර ප්‍ර    වර්ධන
සුගති කර බහු කර්ම චක්‍ර ප්‍ර    වර්ධන
සුගති මය භව කර්ම චක්‍ර ප්‍ර    වර්ධන
ජගති කෘත වර ධර්ම චක්‍ර ප්‍ර    වර්ධන

27. සිද්ධාගම සද්ධාමන    සංඥාපිත පා    ක
බුද්ධාගම වඛ්‍යාපන    විංඥාපිත නා    ක
සුද්ධාගම විස්තාරණ    විංඥාපිත ලෝ    ක
සත්‍යාගම විස්තාරණ    විංඥාපිත ලෝ    ක

28. මත්‍ය මත්‍ය දානපාත්‍ර ලුප්ති සෝහ    කාඤ්චන
මත්‍ය ලබ්ද ධර්මශාත්‍ර ලුප්ත ශොභ    කාඤ්චන
වෘත බෘන්ද සීතමංජු චිත්ත ජාත චා    ඤ්චන
සත් සමන්ත කූට සෘංග දන්ත පාද    ලාඤ්චන

29. ප්‍රනීත චරිත සංගගීති නීති සද — න
අමිත විමල ධර්මශීල නීති හද — න
බහල ධවල පූජහාරි චාරු රඳ — න
සිසිර කිරණ මණ්ඩලාභි රාම වද — න

30. ජාතදිව සීය මහ මෝදිත පිතා ම — හ
විතමල ලෝකහිත පූත කුසලා ම — හ
බාහුබල ඝෝරරණ මාර්බහු වීර — හ
රාහුනය නාවිශය පාදසර සීරු — හ

31. ප්‍රේම පූගසීම භූරි සෝම සාර වාච — න
හීම භාව භාම රාග නාම රූප සූද — න
වාම දේව නාමනාථ ශ්‍යාමපාද රෝච — න
හේම රාසි ධාමචාරු නාම රූප සෝභ — න

32. වාදබධ විය්වුරත් කුදෘෂ්ටි දෘෂ්ටි — සඤ්චය
හේදචිත්ත සම්භව ප්‍රපංච පද්ම — සඤ්චය
පාදපත්ම සංචුරප්‍ර වුල්ල පද්ම — සඤ්චය
වේද සිද්ධ සේමු සිප්‍ර හග්න හේද්‍ය — සඤ්චය

33. අඛිල ලෝක පූජිත ප්‍රහිත සර්ව සෝ — චන
සකල තාප වේදන ප්‍රභාව සංග මෝ — චන
මධුර සාර ශීතලප්‍ර කටක භව්‍ය වාං — චන
නිරව ශේෂ ගෝචර ප්‍ර දාන්ත බුද්ධි ලෝ — චන

34. කිරණ නිවස ප්‍රියං මණ්ඩිත විතන — පුෂ්කර
කලුසහර නස්පුරං නව ලලිත — පුෂ්කර
ගමන සම නශ්චයං නද දමිත — පුෂ්කර
සකල භුවන ප්‍රියං කර චරණ — පුෂ්කර

35. නිත්‍යාපේ සල නිත්‍යා දක්ෂිණ නිත්‍යාභාව තථාගත
නිත්‍යාභාසුර නිත්‍යාදේසිත නිත්‍යාභාව තථාගත
නිත්‍යාවිෂමය නිත්‍යා වත්සල නිත්‍යාමෝද තථාගත
නිත්‍යාමංගල නිත්‍යාසුන්දර නිත්‍යාපූජ තථාගත

36. ත්‍රිවිධ සුභ චලන වර ජලජ නිභ යුග ල
විනය මය විවිධමනු සමිත දුරි තග ල
මථිත බහු විෂය හර හරිත භව යුග ල
ප්‍රණතසුර මකුට මණි ඝටිත පද යුග ල

37. හෙලා වීර විත දොලා හිත ජන මුලා ගමවිධි
දීපනවාට
හාලාහල නිභ ශාලා භ ව සුග ලීලා විදලන
සංඝනකධාට
බාලානයලති ජාලා ධර හර ශීලා යුධධර චාරිතකු
ට
කෝලාහල කළ නාලාගිරි ගජ කාලා කෘතිමද වේග
විභාට



38. වන මුදිත විශිෂ්ට මධුරතර නා ද
ජනහෘදය මධ්‍යස්ථ කමල මෘදු පා ද
විනය බල විච්ඡින්න දුරිතකුල හේ ද
අනව රත සද්ධර්ම විතරණ විනෝ ද

39. අරුණ පදතල සකල විසයක විමලදශ විධ මති
බල
කරුණ ජල නිධි ලහරි පරි කර සතත කුසලිත මහි
තල
විශද දිනමිණි කිරණ විකසිත කමල මෘදුතල කර
තල
දශ දිගුප ගත සුරභිකුල වරදනන් විකසිත පරි
මල

40. අනඝමති මනෝඥං ධම් රාජස්‍ය ගද්‍යං
ලිඛති පඨති යෝවා සාරදං යඃ ශ්‍රුණෝති
ත්‍රිභුවන භව නාන්තං ප්‍රාප්‍ය භෝගාන ශේෂා
නනුභවති සනිත්‍යම් ශාන්ත නිර්වාණ සෞඛ්‍යම්

*-බුද්ධ ගජ්ජය නිමි-*

# ගණ දෙව් හැල්ල





01.

ආයුබෝ වන සෙ තා
ඉසුරු වරමින් යු තා
උමාඟන දළ නෙ තා
ඉසුරු එබිසෝ වෙ තා

02.

ගැබ කුමරු හට ග තා
දිනෙන් දින මෝර තා
දෙළ උපත හටග තා
රස මියුරු ගෙන දෙ තා

03.

එදෙළ සන්සිඳුව තා
එසත් මස පිරිග තා
දෙතන පුඩු කළු වෙ තා
කිරිබරින් සිට ග තා

04.

නව සඳෙව් රුවිනි තා
දසඑකඩ මස වෙ තා
විළිරුදය පහරි තා
ගුරුදිනේ බිහිවෙ තා

05.

රේවතිය මෙ නක තා
කඳ කුමරු නම් ල තා
ඔවුන් පුත් ගණ ප තා
ඔහුට තෙද බල ඇ තා

06.

තෙද නුවණ විකුමැ තා
රකුසනට බල ව තා
නරයනට සිරි දෙ තා
සුරිඳුනට අග ප තා

07.

එ සිවුසැට සිල්පය ට
වැඩි සිල්ප දසට ර ට
නිපුණ කරවන ලෙස ට
මෙවැනි ගණදෙවිඳුහ ට

08.

වැඩ ඉන්ට නිසි ලෙස ට
මාලිගාවක් සොඳ ට
කරවනට නියම කො ට
ගණිත ඇදුරකු ළඟ ට

09.

යවා පණිවිඩ එවි ට
ගෙන්නවා එ නුවර ට
බිමක් බලවා සොඳ ට
එ බිම සම කැරැ සතු ට

10.

ඇඳුරුවරු එතන සි ට
කපා කප් සොඳ රඟ ට
ආවඩා දෙපස සි ට
මඟුල් කප ගෙන අත ට

11.

වඩ වඩා සෙනෙහසි න්
මඟුල් කප සිටුවම් න්
දමා යට තලාඳි න්
වනා පරහල උම න්

12.

වෙළා නන බැඳ තදි න්
එරන් උළු සොයවම් න්
පද නම ද ගල තෙලෙ න්
මුදුන කොත් සිටුවම් න්

13.

බිත්ති මැටි පදලම් න්
සුණු පදම් ලා ඔපි න්
මකර රුව හංසය න්
ගුවර දිවි සිංහය න්

14.

මොනරු හා ගිරවනු ත්
කොබෙයියන් කුකුළනු ත්
පරවි සොඳ කොවුලනු ත්
ඇඳ බිත්තිවල මෙ සි ත්

15.

සිත්තරකු ගෙන්ව නා
ආසනේ තනම් නා
උඩුවියන් බඳිම් නා
වට තිර ද අඳිම් නා

16.

සේර අඩි තනම් නා
වලුමල් ද බඳිම් නා
නොයෙක් රුවනිනි ම නා
සඳුන් මණ්ඩප ත නා

17.

දෙව්වරුන් තනම් නා
සොඬතලුද මුක ත නා
ඉස ඔටුනු දරම් නා
ගජතකුගෙ හිස මෙ නා

18.

දෙදළ කන්තල ත නා
නළල අඩසඳ මෙ නා
දෙබැම දේදුනු මෙ නා
රුවින් සඳ සේ ම නා

19.

නුවන් නිලුපුල් මෙ නා
දෙතොල දළ සඟලි නා
ගහණ රන් අකුසෙ නා
මුකය රන් පියුමෙ නා

20.

සවන් දෙක දිළිසෙ නා
දෙවුර රන් තොරණි නා
දෑත් දිළි ගන ර නා
ඇඟිලි රන් පළු මෙ නා

21.

පිටද රන් පලසි නා
ළමැඳ පිට බබළ නා
දෙතන රන් කුඹු මෙ නා
උදර කලසක් මෙ නා

22.

සිහිනිගද බබළ නා
ඉගට සළු බරණි නා
වටොර රඹ කඳ මෙ නා
දෙදන රන් බුබුලෙ නා

23.

කෙණ්ඩ දුනු කැකුලෙ නා
පතුල් පියුමක් මෙ නා
ළමැඳ රන් පාටි නා
විසි නියද බබළ නා

24.

සුරිඳු රජ විලසි නා
දෙවිරුවද බබළ නා
ආසනේ ඉඳුව නා
බලා සුබ මොහොති නා

25.

පහන් දුම් මල් ගෙ නා
සුවඳ සඳුනෙන් ත නා
ඇමතිවරු සිටගෙ නා
පල්ලිනම් තබමි නා

26.

අග්ගලා කොමලි නා
තලකැරලි විලදි නා
මල් කැවුම් රොටියෙ නා
වෙල්ල වැසුමුත් ත නා

27.

පුලුක් බෝජන ත නා
ලාලු යක්පිටියෙ නා
කිරි උංඩ පූ ත නා
අත්සුණු ද ඉසිමි නා

28.

මොර හිඹුටු දම් ප නා
අඹ දඹ ද ඇටඹි නා
පලු වීර ඩෙබරි නා
කදලි විලිකුම් ම නා

29.

උක් සකුරු රස ත නා
වැලඳ වරකා ගෙ නා
දී කිරිද වෙඩුරෙ නා
මෙසේ බෝජන ත නා

30.

මෙවැනි ගණදෙවිඳු හ ට
රන් කෙංඩියක් අත ට
රන්තලිය තබා සි ට
මුව සුද්ද කැර එවි ට

31.

වළඳවා සතුටු කො ට
කපුරු බුලතුත් සොඳ ට
සිත් සමා කැර එවි ට
උදහසක් නොවී ම ට

32.

අදහසක් ඇතුව සි ට
අවසරය දෙන් මෙ ම ට
පින් සිද්ද වෙයි ඔබ ට
දෙවන් සිල්පය මෙ ම ට

33.

ගෙන්නවා ගුරු ඇදු රු
පය සෝදවා එගු රු
වතක් අඳවා සොඳු රු
උසෙක ඉඳවා මහ රු

34.

තනා පස් රස මියු රු
කුසුම් හැම ඇඟ තැව රු
දෙවා බුලතුත් කපු රු
නමා හිස දෙපය ගු රු

35.

ගුරුන් දෙස බලම් නේ
වැඳ වැටී එම දි නේ
අවසරය ඇරගෙ නේ
දැකුම් දි දකිම් නේ

36.

සෝඩිය ද ගෙනති නේ
කියා සිත් ලෙස දැ නේ
පිල්ලම් ද කියම් නේ
වැල්ලේ ද ලියම් නේ

37.

නම් ගමුත් කියම් නේ
සැහැලිපොත් කියම් නේ
වඳන් කවි කියම් නේ
බුද්ධගජ්ජය දැ නේ

38.

එ පස් වා මෙ පස් වා!
දහස් කල් රකිත් වා!
දිනේ මතු දිනේ වා!
දිනේවා! දිනේ වා!

***ගණපති යාදින්න නිමි***

39.
ගණපති දෙති නුව ණ
මිහිකත රකිති මෙදෙර ණ
දෙන්නේ මට නුව ණ
අසන් දෙවියනි මේ දේවග ණ

40.
ගණඳුරු දුරල ව න්
නුවණින් නිපුන කරව න්
මෙ නරලොව දිනව න්
සසිරි ගණදෙවි නුවණ මට දෙන්

41.
පුදම් ආලං ගා
සිතුසේ කෙරෙයි අං ගා
මව් ද උමයං ගා
වඳිම් ගණදෙවිදෙහොත් නංගා

42.
ගණ දෙවියෝ නුවණදෙ න්ට
සරස්වතී පහළ ව න්ට
සියලු රෝග දුරු කර න්ට
නිතර වඳිම් තුනුරුව න්ට

43.
සූරිය කුල තෙද උතු මා
පෑවිය සක්වලට හැ මා
කාරිය සිතුවාට ත මා
සූරිය දෙව් නමෝ න මා

44.
ඊශ්වරා ලෙසින් ත මා
ශාස්තරා දී නොප මා
ආස්පුරා ඇවිද ත මා
භාස්කරා නමෝ න මා

45.
චන්ද්‍ර සහෝදර උතු මා
චන්ද්‍ර කටක පැවැති ත මා
සව්සිරි දී රකු මෙතු මා
චන්ද්‍ර සුරිඳු නමෝ න මා

46.
නිත්ත ඇවිද මෙරවට මා
සිද්ද කරන ලොවට සැ මා
උත්තම ගුණ නුවණ ත මා
සත්තලෝක නමෝ න මා

47.
ඔදැති තෙදැති සමාග මා
අරිති අරිති අඳුර ත මා
දෙවති දෙවති නුවණ ත මා
ජයතු ජයතු නමෝ න මා

48.
ගණිසුරු මහසෙන් කන්ද
ගෙන අඩයටි සුරති න්ද
දෙමි කී අඹ පල ස න්ද
මෙව්කුම් කුමරුගෙ කන්ද

49.
ඉසුරු උමා කී බසෙකි න්
මයුරාසන පිට නැගෙමි න්
සක්වළ වට දිව සැනෙකි න්
සරණත කර මම නමඳි මි

***ගණදෙවි හෑල්ල නිමි***

# සකස්කඩය

නමඃ ශ්‍රී සඞ්ඝාය

දීපංකරාහ්වය මුනීශ්වර පාදමූලේ
සන්ත්‍යජ්‍ය ලබ්ධමමෘතං කරුණාං විධාය
අත්‍යාහිතං පරහිතං සුකෘතං විශේෂාත්
සිද්ධං නමෝස්තු සුගතාය ජගද්ධිතාය

අප තථාගතයන් සංසිද්ධාශේෂ සම්භාරවිශේෂ සක්ෂාත් කරණීය සර්වපාප මල ප්‍රක්ෂාලනක්ෂම ආත්ම මෝක්ෂ නිරපෙක්ෂාව උදයව්‍යය භවංගභයාදීනවාදී නවමහා විදර්ශනඥාන පරම්පරාධිගත නිර්මාණ මහා සසරට පරිධාවමාන සමස්ත සත්ත්ව මත්තමා තංගයා මහා කරුණාංකුශයෙන් හමනව ජාති ජරා භංග භංගීර භංග භයානක රාගද්වෙෂාවමර්ෂී මඳමාන සංරම්භාදී ක්ලේශ මකර නිකරා කීර්ණ සංසාර මහාර්ණවාවතීර්ණ ද්වාශෂ්ටි දෘෂ්ටි ජාලාවබද්ධසර්ව සත්ත්ව සමුදයානුබද්ධ බුද්ධි ඇතිව - කාය ජීවිත නිරපෙක්ෂාභිජාත නිභීරා භ්‍යාහිත සර්වලොකෙක දීපාය මාන දීපංකර තථාගත ව්‍යාකරණාභිශෙකයෙන්

උදිණික්ලෙශ මලාපගම කොට නිර්මලව - අනේක බුද්ධානුයාත සම්‍යක් සම්බෝධි සම්භාරී භාරාලංකාරයෙන් සමලංකෘතව - ගශ්ව දූපාශ්‍යමාන පාරමිතා දූතිකානුනියමාන ධර්මරාජ්‍ය ලක්ෂ්මී සඟම ගමන මංගල්‍යයට ආරම්භකොට - කල්පකෝටි ශත සහස්‍රාධික චතුරා සංඛ්‍ය කල්පකලාභ්‍යාතිසය ස්වාත්මීකෘත සර්වසම්ප්‍රදා දාන නිදාන දාන ශීල නෛෂ්ක්‍රම්‍ය ප්‍රඥා වීර්ය ක්ෂාන්ති සත්‍යාධිෂ්ඨාන මෛත්‍රී පෙක්ෂාලක්ඛණ දශවිධ පාරමිතා සාගරයෙහි පාරප්‍රාප්තව මාරාරාති චක්‍රාක්‍රමණ සන්නද්ධ බුද්ධාංකුර මහයෝධද්ධ්‍යුෂිත තුෂිත භවනාරූඪව බද්ධානුරාගා වර්ජිතාමිතා මරවර වධූවිධූයමාන චාමිකර චාරුචාමර ධවලී කෘතෝදාර පාද්ධරතර කීර්තිවිමානයෙහි වැඩ වැසෙමින් භක්ති ප්‍රෙමාතිභාරාවනත සර්වසුරාසුරවර චක්‍රවාරු චූඩාමණිමරීචි සචය පරිචූඹිත චරණනඛ මයූඛජ්වලාභිශෙකයෙන් භුවනත්‍රයට අභිෂෙක දී දුර්ගති දුර්ගාභිමුඛව පරිධාවමාන සමස්ත සත්ත්ව සන්දර්ශනයෙන් සමුච්විග්නව - දිව්‍ය බ්‍රහ්මයන් විසින් සමාරාධිතව මහසම්මත පරම්පරානුජාත ශුද්ධ සූර්යවංශාභිජාත සර්වගුණගනාභරණ විභූෂිත කීර්ති මාලා පරිශුද්ධ ශුද්ධොදන මහා රාජොපනිශ්‍රයෙන් අපරිමිතතා පුණ්‍යසම්භාර රූපලාවණ ගුණෝපෙත මහාමායාදේවීන් ගබ චෛත්‍යන්තගර්භයෙහි ආත්මීය ප්‍රතිසන්ධාන ධාතු නිදන් කොට ෂ්ඵටික චෛය්‍යායන්තර්ගත විරාජමාන කනක ප්‍රතිමානුකාරයෙන් දිලියෙමින් දශමාශාද්ධමාසයක් ගර්භයෙන් මෑගර්භයෙහි වැස වසන්ත මද මෝදමාන

මුබර මධුකර භාරහරිතාංකුරිත කුසුමිත ඵලිත පල්ලව ලතා විතාන විතත විචිත්‍ර විශාල ශාල සලලකේශර නන්තමාලතමාලිනී කදඹාදී තරු සංඛමණ්ඩිත ලුම්බිනි වනෝද්‍යානයෙහි මාතෘගර්භයෙන් ප්‍රසූතව - මහාබ්‍රහ්මෝපනීත ස්වර්ණජාලායෙන් ලෝකපාල දිව්‍යපුත්‍රෝපනීත අජිණිචර්මයෙන් මනුෂ්‍යෝපනීත දුකුලචුම්බටකයෙන් ක්‍රමයෙන් වැඩ - වසුධා ඟනා මස්තකෙකක ශෙඛරභාවයට සම්ප්‍රාප්තව - අශෙෂදොෂන්ධකාර නිතර නිරාකරණ සමුද්ගත තරුණ තරුණිමණ්ඩලාකාරයෙන් දිලියෙමින් දශදිශා විලෝකනය කොට - අනන්තාපරිමාන ලෝකධාතු පයර්‍යාපන්න සමස්ත සත්ත්ව නිකායෙහි ආත්ම සදෘශාධික පුද්ගලාන්තරයක්හු නැති සේ දැක - උත්තර දිශාභිමුඛව සප්තපදාතික්‍රමණ භාරාවසානයෙහි වැඩසිට "අග්ගෝහමස්මි ලොකස්ස ජෙට්ඨෝ හමස්මි ලොකස්ස සෙට්ඨෝ හමස්මි ලොකස්ස අයමන්තිමාජාති නත්‍ථිදානි පුනබ්භවෝ" යි - යනාදීන් අභීත සිංහනාද කොට - සර්වසුරාසුරවර මත්තමාතංග මානමද පරිශෝෂණ නිපුණ සිංහනාද පරිපූරිතා ශේෂ භුවන කුහර ඇතිව ශාක්‍යාදිරාජසිංහ පොතකතෙම චතුර චතුර සිති සහශ්‍ර කුලප්‍රභේද විස්තීර්ණ බන්ධුවර්ගයා මධ්‍යයෙහි විරාජමානව - ශුක්ල පක්ෂාභිවර්ධමාන චන්ද්‍ර මණ්ඩලානුකාරයෙන් ක්‍රමාභිවෘද්ධව ප්‍රභාස්වරතර වරාඟනා මධ්‍යයෙහි විරාජමානව චන්ද්‍රාලොකානුකාරී යශොධරා ප්‍රමුඛ නෙකකොටි නාටකස්ත්‍රීන් පරි වෘත්තව ප්‍රතිදිනාරබ්ධ

මංගල කපිලවස්තු මහා නගරවරයෙහි ක්‍රීඩා ස්වභාවයෙන් එකුනත්‍රිංසත් සංවත්සරාතික්‍රාන්ත කොජරාජීර්ණ රෝගාවතිණණ මරණාවතිර්ණ පූර්වනිමිත්ත සක්ව සන්දර්ශනයෙන් සමුව්ගතව ප්‍රවෘර්ජාරූප සන්දර්ශනයෙන් නිර්වතව නෛශ්ක්‍රම්‍යාභිමුඛ මානසින් සන්තුෂ්රව ඡන්න නම් අමාත්‍ය වීතීයව අනෙකකොටි ශතසහශ්‍ර චක්‍රවාළාන්තරාල පරිසපූරිත දිව්‍යබ්‍රහ්ම ගණාකීණී පරිජාත මන්දර මකරන්දා බින්දුසින්ධුරීතාග සුන්දරතර චතුරතර තුරඟයානයෙන් ප්‍රයානය කොට ගංගා තීරයට සම්ප්‍රාප්තව සර්‍වාභරණ විභූෂිත කණකවර්ණ දේහශෝභා ඇතිවන බැවින් සුපුෂ්පිත කර්ණිණිකාර තරුසිඛර සමුද්ගත ශමරාවලී ලීලායෙන් යුක්ත ආත්මය බංගධරාසමුච්ඡින්න කේශධාතු ආකාශයෙහි විහිද සර්‍වකාර මහා බ්‍රහ්මොපනිත විශිෂ්ටාෂ්ට පරිෂ්කාරයෙන් ප්‍රවෘජිත ප්‍රවෘජ්ජ්‍යා සුඛාමත රසාස්වාදයෙන් සප්තහතික්‍රාන්ත කොට රාජග්‍රහ නගරවරයෙහි භික්ෂාටනයෙන් සන්තර්පිතව ෂට්සංවත්සර මාත්‍රයක් ප්‍රධාන භූමියොගකොට කෂ්ටවෘත සමාදානයෙන් මොක්ෂයාගේ අලබ්ධභාවය ලෝකයාහට ප්‍රකාශකොට සූජාතෝපනීත ක්ෂීරපායාස ප්‍රතිග්‍රහණයෙන් රූපකායානුග්‍රහ කොට ක්ෂාන්ති විජෝපණිත කුසුමමුෂ්ටි ග්‍රහණයෙන් මාරාරාති සංග්‍රාමභූමි ස්ථානීය බෝධිමණ්ඩපයට සම්ප්‍රාප්තය - පෘථිවි සමුද්භෙදෝද්ගත කුසුමපර්‍යංක වරවාරණ සමාරාරූඪව චතුරංග සමන්විත වීර්‍යාධිෂ්ඨානයෙන් පාදබන්ධනය කොට තත්කාල සමායාත සංරම්භාති විභීෂණ - මත්ත මාතඟ

තුරංගාඬම්බර හෂීහෙෂාරව බධරී කෘතාශේෂ ත්‍රිභුවනභවනපුටපාටනපටුපට හපවනදූන් දුභිඩවනි ප්‍රලයාසනීසම්පාත නීර්ඝොෂයෙන් සොෂවූ දුර්දණ්ඩ මණ්ඩල දූෂිතකෘත කොදණ්ඩ දණ්ඩ කාණ්ඩකම්පන හිඬිවාල ත්‍රුවාලාර්ධ චන්ද්‍රචක්‍රාදි විවිධායුධ සහශ්‍ර දුර්වාර සපරිවාර මාරපරාජය කොට - ප්‍රථමයාම සමාධිගත පූර්වේනිවානුස්මෘති ඥානාලෝක බලයෙන් අනාගතාතීත කාල වර්ත සර්වදොෂාන්ධකාර නිතරනිරාකරණයකොට මධ්‍යමයාම සමාධිගත සවාසන සර්ව ක්ලේශ සමුච්ඡෙද සමෘචාෂ්ටයර්‍ය මාර්ගාක්ෂණ ආශ්‍රවක්ෂයකරාභිඥා-නාලෝක බලයෙන් වර්තමාන සණතරඥාන තිමීර පටල පුටපාටනය කොට - මෙසේ වූ ත්‍රිවිද්‍යා ඥානාලෝක බලයෙන් අධව ත්‍රීතයසර්ව -දොෂාන්ධකාර දුරීකරණයෙන් සංස්කාරවිකාර ලක්ෂණ නිර්වාණ ප්‍රඥප්තිය යන පංච විධ ඥෙයයමණ්ඩලයෙහි ඓශ්වර්‍ය කෙරෙමින් - අනාවර ඥානාභිෂේකයෙන් සර්‍වධර්‍මාධිරාජ්‍ය පදයෙහි සුප්‍රතිෂ්ඨිතව ස්ථාන භව යෝනිගති විඥාන ස්ථිතිසත්වාවා සභේද භින්න සර්‍වසත්ත්වචාගීශ්‍රිත ක්ලෙශාරිවර්ග සමුච්ඡේද චතුර චතුරාසිති සහශ්‍ර ධර්‍මස්කන්ධ මහානගරවරයට සම්ප්‍රාප්තව චතුර්වෛසාරාද්‍ය දසබල චතුර්දශ බුද්ධඥානාෂ්ටාදශබුද්ධ ධර්‍මා ද්වාත්‍රිංසත් වර මහා පුරුෂ ලක්ෂණයෙන් හා අසිත්‍යානුබ්‍යංජන ව්‍යාමප්‍රභාකෙතු මාලාලංකාරයෙන් විරාජමානව තථාගත වරධර්‍මචක්‍රවර්තිව නානාකාලයෙහි නානාවිධ විනය සත්වාසයානුසයචරිතාධි මුක්ති වශයෙන් සද්ධර්මාමෘත වර්ෂ කෙරෙමින්

සර්වසම්පන්න ශ්‍රාවස්ති මහා නගරවරෝපනිශ්‍රය කොට සර්වධර්මා-ධිරාජධානිනිස්ථානීය ජේතවන විහාරයෙහි වැඩ වැසෙමින් දෙසුවාවූ සුවාසූ දහසක් ධර්මස්කන්ධයට අන්තර්ගත වූ විශාලා මහනුවර ජනපද රෝග භය පලවා කෙළලක්ෂයක් සක්වළෙහි ආඥා පැතිර දිළිසෙමින් සිට රුවන් සූත්‍රයෙහි වදාළතාක් ආඥාගුණ තේජෝබල මෛත්‍රී පුණ්‍යප්‍රභාවයෙන් සියල් ලෝවැස්සන්ට ද මට ද ජේන සේ විය යුතුයි.

සර්වාන්තරායවර මහාභිනික්මන් සකස්කඩය නිමි

**සි ද්ධි ර ස් තු**